# ලාංකීය කාන්තාව පිළිබඳ විවරණයක් බ්‍රාහ්මීය ලෙන් ලිපි ඇසුරින්.

පී.ජී.ආර්.ජේ.එන්. හර්ෂණී.

තාවකාලික සහකාර කථිකාචාරිනි, ඉතිහාස අධ්‍යයන අංශය,

කැලණිය විශ්වවිද්‍යාලය, කැලණිය.

nisansalaharshani200@gmail.com

**සංක්ෂේපය**

ක්‍රි.පූ 3 - ක්‍රි. ව 1 අතර කාලයට අයත් ලෙන් ලිපි වනාහි ඉතිහාසය හැදෑරීමෙහිලා සුවිශේෂී වූ ප්‍රාථමික මූලාශ්‍රයකි. මෙකී බ්‍රාහ්මීය ලෙන් ලිපි ඔස්සේ එවක සමාජයෙහි විසූ කාන්තාව පිළිබඳව සංසන්දනාත්මක අධ්‍යයනයට ලක් කිරීම අපේක්ෂා කෙරේ. ලෙන් ලිපිවලින් එවක කාන්තාවට සමාජ, ආර්ථික, ආගමික, දේශපාලන යන අංශ ඔස්සේ දියණියක්, භාර්යාවක්, මවක්, භික්ෂුණියක් සහ උපාසිකාවක් වශයෙන් හිමිව තිබූ තත්ත්වය විමසා බලනු ලැබේ. එමෙන්ම මෙහිදී ලෙන් ලිපිවලින් හෙළිවන කාන්තාව පිළිබඳ තොරතුරු විමසුමට ලක් කරමින් බ්‍රාහ්මණ සහ බෞද්ධාගමික සංකල්පයන් ඔස්සේ සංසන්දනාත්මක අධ්‍යයනයක් මෙම ලිපියෙන් ඉදිරිපත් කෙරේ.

**හැඳින්වීම**

ශ්‍රී ලංකාව තුළ වරින්වර හමුවන ලද සෙල්ලිපි රාශියක් වේ. ඉතා පැරණි යුගයට අයත් ලිපි බ්‍රාහ්මීය අක්ෂරවලින් ලියා ඇති අතර බ්‍රාහ්මීය සෙල්ලිපිවල ආරම්භය ක්‍රි.පූ 3 සියවස දක්වා දිවයයි. ක්‍රි.පූ 3 - ක්‍රි.ව 1 යන සියවස්වලට අයත් ලිපි ලෙන්වල පිහිටුවා ඇති අතර ඒවා බ්‍රාහ්මීය ලෙන් ලිපි ලෙස හැඳින්වෙයි. හුදෙක්ම යථෝක්ත සියවස්වලදී භික්ෂූන් වෙනුවෙන් වාසයට සුදුසුයැයි හැඟෙන පරිසරයක පවත්නා ගල් ලෙන් බැතිමතුන් විසින් පවිත්‍ර කර සුදුසු පරිදි සකස් කර කටාරම් කොටවා බිත්ති බැද ඒවා සඟ සතු කොට පූජා කර ඇත්තේ නාමය, ගම, තනතුරු සහ පරම්පරාව ඇතුලත්වන පරිදි කටාරමට යටින් ලේඛනයක් කෙටවීමෙනි. මෙබඳු ලෙස ලෙන්වල කොටවා ඇති ලේඛනවලින් එවක සමාජය තුළ ජීවත්වූ කාන්තාව සම්බන්ධ පැතිකඩ කීපයක් අනාවරණය කරගත හැකිය. එසේම මෙහිදී කාන්තාව පිළිබඳව පැවති බ්‍රාහ්මණ සහ බෞද්ධ සංකල්ප දෙස අවධානය යොමු කරලීමට ද අපේක්ෂා කෙරේ.

භාරතයේ බ්‍රාහ්මණ සමාජය තුළ කාන්තාවට දේශපාලනික, ආර්ථික, සමාජීය සහ ආගමික වශයෙන් ස්වාධීනත්වයක් හිමි නොවීය. එසේම ළදැරිය, තරුණියක හෝ වයසක ස්ත්‍රියක් විසින් තම නිවසේදීවත් ස්වාධීනව කිසිවක් නොකළ යුතු බව බ්‍රාහ්මණ දහමේ අන්තර්ගතය (මනුස්මෘතිය සහ මානව ශිෂ්ටාචාරය (2001), ආරියදස සෙනෙවිරත්න, එස්. ගොඩගේ සහ සහෝදරයෝ, කොළඹ 10, පි. 240). තවද ස්ත්‍රිය වූ කලී චපලත්වයෙන් යුත් තැනැත්තියක් බව බ්‍රාහ්මණයන්ගේ ප්‍රකාශය කීපයකින් ධ්වනිත වේ.

"ඖදුම්බරං භවං පුෂ්පං - ශ්වේත වර්ණං ච කාකයෝඃ

මත්ස්‍යපාදං ජලේ පශ්යේත් - ස්ත්‍රී චිත්තං න විශ්වසෙත්"

(ප්‍රත්‍යශතකය (1985), 16 ශ්ලෝකය, සීමාසහිත ඇම්.ඩී.ගුණසේන සහ සමාගම, කොළඹ 11, පි. 7)

"දර්ශනං චිත්ත වෛකල්‍යං - ස්පර්ශං ධන නාශනං

ශයනේ මරණං කුර්යාත් - ස්ත්‍රී ප්‍රත්‍යක්ෂ රාක්ෂසී"

(ප්‍රත්‍යශතකය, 35 ශ්ලෝකය, පි. 10)

"මුඛ පද්ම දළාකාරං - වාචා චන්දන සීතලං

මධු තිෂ්ඨති ජිහ්වාග්‍රේ - හෘදයේතු හලාහලං"

(ප්‍රත්‍යශතකය, 57 ශ්ලෝකය, පි. 15)

මෙබඳු දේ තුළින් විශද වන්නේ බ්‍රාහ්මණ සමාජය තුළ කාන්තාව විවේචනයට බඳුන්ව තිබූ බවයි. එනමුත් බුද්ධ කාලයේ දී භාරතීය සමාජය තුළ කාන්තාවට හිමිව තිබූ තත්ත්වය ගත් කල්හි එය වූ කලි ඉතා උසස් මට්ටමකට පත්ව තිබූවක් බව මූලාශ්‍රයගත කරුණු විමසීමේ දී පෙනීයන්නකි.

ක්‍රි.පූ 3 - ක්‍රි.ව 1 යන කාල පරිච්ඡේදයට අයත් වන්නාවූ ලෙන් ලිපිවලින් හෙළිවන කාන්තාව පිළිබඳ තොරතුරු අංශ කීපයක් ඔස්සේ සාකච්ඡාවට ලක් කළ හැකිය. එම අංශ පහත පරිදි දැක්විය හැකිය.

- දියණියක් වශයෙන්
- භාර්යාවක් වශයෙන්
- මවක් වශයෙන්
- භික්ෂුණියක් වශයෙන්
- උපාසිකාවක් වශයෙන්

**දියණියක් වශයෙන්**

බුදු දහමට අනුකූලව විමසන කල එවක සමාජය තුළ ස්ත්‍රියට දියණියක වශයෙන් හිමිවිය යුතු උසස් ස්ථානය හිමි කරදීමට සමත්ව ඇති බව පෙනීයයි. කෙසේදයත් කොසොල් රජුගේ බිසවට දියණියක් උපන් බව සැල වූ විගස රජු අසීමිත ලෙස කණගාටුවට පත් වූ බවත් එහිදී බුදුන්වහන්සේ විසින් ස්ත්‍රිය ද උසස් බවත් ඇයව පෝෂණය කළ යුතු බවත් නුවණැතිව, සිල්වත්, පතිවත රකින ඇය විසින් ලබන පුත්‍රයා රාජත්වයට සුදුසු බවත් පැවසූ බව ධීතු සූත්‍රය තුළින් අනාවරණය වේ (සංයුක්ත නිකාය I (2005), ධීතු සුත්ත, බෞද්ධ සංස්කෘතික මධ්‍යස්ථානය, දෙහිවල, පි. 159). තවද සිඟාලෝවාද සූත්‍රයෙහි මාපිය - දූදරු යුතුකම් ගත්කල ඒ තුළින් ගම්‍ය වන්නේ පිරිමි දරුවා හා සමාන තත්ත්වයක් ගැහැණු දරුවාට ද ලබා දී තිබෙන බවයි (සිංහල දීඝනිකාය (2004), නිවන්දම ධම්මකීර්ති හිමි සහ තවත් අය (පරි.), බෞද්ධ සංස්කෘතික මධ්‍යස්ථානය, දෙහිවල, පි. 451). ඒ අනුව බ්‍රාහ්මීය ලෙන් ලිපි ඔස්සේ දියණියක් වශයෙන් කාන්තාවට සමාජය තුළ හිමිව තිබූ ස්ථානය කෙසේවූයේ ද යන්න විමසුමට ලක් කිරීම මෙහිදී වැදගත් වේ.

බ්‍රාහ්මණ දහමට අනුව දියණියකට හිමිව තිබූ තත්ත්වය ලක්දිව තුළ ක්‍රි.පූ 3 - ක්‍රි.ව 1 යන සියවස්වලදී සම්පූර්ණ වෙනසකට බඳුන්ව පැවති බවට බ්‍රාහ්මීය ලෙන් ලිපි සාක්ෂි දරයි. කෙසේදයත්

දියණියකට පුත්‍රයෙකු හා සමානව කටයුතු කරලීමේ හැකියාවක් තිබූ බවත් ඇය පිළිබඳව දෙමාපියන්ගේ අවධානය මහත්ව පැවති බවත් හෙළිවන හෙයිනි. එනම්, දියණිවරුනට එවක සමාජය තුළ හිමිව තිබූ තත්ත්වය ඔවුන්ගේ පවුල් පසුබිම, විවාහ, ආගමික කටයුතුවල නියැලීම, සමාජය තුළ ක්‍රියාකාරිත්වය යනාදිය විමර්ශනයේ දී පැහැදිලි කරගත හැකිය.

බ්‍රාහ්මීය ලෙන් ලිපිවලට අනුව පවුල් සංස්ථාව තුළ දියණියකගේ තත්ත්වය කෙසේ සකස්ව තිබුණේද යන්න පිළිබඳව අවධානය යොමුකරලීම වැදගත්ය. දියණියකට පවුල තුළ සියල්ලන්ගේම සෙනෙහස හිමිව තිබූ අතර ඇය විවාහයට පත්වනතුරුම ඇ පිළිබඳව නිසි අවධානයක් පවුල තුළින් හිමිව තිබූ බව ලෙන් ලිපි විමසීමේ දී පෙනීයයි. එමෙන්ම ලෙන්ලිපි බොහෝමයක ලෙන් පූජා කරන ලද දියණිවරු රාශියක් පිළිබඳව සඳහන් වේ. එහිලා හෙළිවන්නා වූ වැදගත් කාරණය වන්නේ රාජකීය දුවණියන් මෙන්ම සමාජය තුළ ජීවත් වූ විවිධ සමාජ මට්ටම්වල සිටි දුවණියන්ට ද ලෙන් පූජා කිරීමට පැවති සමානාත්මතාවයයි. එහිලා නිදසුන් කීපයක් මෙසේ දැක්විය හැකිය.

"ගමණි - උති - මහරඣහ - ඣිතබි තිශය ලෙණෙ දශ දිගශ සගයෙ දිනෙ......"

(Inscriptions Of Ceylon. Vol-I, No:34, (1970), S. Paranavitana, The Department of Archaeology Ceylon, p. 3).

"දිපරඣ - ඣිතය මහබිය ලෙණෙ ශගශ"

(I.C, Vol-I, No:37, p. 4)

"ගමික - ඣිත උපශික - බදය ලෙණෙ......"

(I.C, Vol-I, No:32, p. 3)

"උපශික - මහනගය ඣිතය උපශික - රොණිය ශගශ"

(I.C, Vol-I, No:10, p. 2)

ඒ හැරුණුකොට තවත් වැදගත් කරුණක් වනුයේ එවක සමාජය තුළ ජීවත් වූ බ්‍රාහ්මණයන්ගේ දියණියන්ට ද ලෙන් පූජා කිරීමේ අවස්ථාව හිමිව තිබීමයි. එහිලා නිදසුනක් මෙසේ දැක්විය හැකිය.

"සිධ සිහස බමණහ ජිතය උපසික - දෙවය ලෙණෙ සගස"

(I.C, Vol-I, No:1111, p. 87)

ඉන් ප්‍රකට වන්නක් ලෙස සමාජය තුළ බ්‍රාහ්මණ දියණියන්ට ද එවක ජීවත් වූ අන්‍යයන්ට මෙන්ම සම ස්ථානයක් හිමිව තිබීම දැක්විය හැකිය.

තවද ලෙන් ලිපි තුළින් එවක සමාජය තුළ දෙමාපියන් විසින් සිය දියණිවරු විවාහයට පත්කරලීම සම්බන්ධව ද තොරතුරු හෙළිකරගැනීමට පුළුවන. ඒ බව ගමිකයන්ගේ දියණිවරු පරුමකවරු සමඟ විවාහ වී සිටි බවට සාධක ලැබීමෙන් ගම්‍ය වේ. එහිලා නිදසුන් වශයෙන් මණ්ඩගල සහ දඹුල්ල යන ලෙන් ලිපි දැක්විය හැකිය.

"පරුමක - චුලු - ඣය ගමික - වශබ - ඣිතය උපශික - තිශය ලෙණෙ ශගශ දිනෙ"

(I.C, Vol-I, No:578, p. 44)

"ගමික - වහබ ඣිතය පරුමක - පුශදෙව - ඣයය ලෙණෙ......"

(I.C, Vol-I, No:853, p. 66)

ඉන් විශද වන්නේ එවක පරුමකවරුන්ට සහ ගමිකයන්ට සමාජය තුළ උසස් තත්ත්වයක් හිමිව තිබෙන්නට ඇති බවයි.

එසේම රාජකීයන් අතර විවාහ සිදු වූ බවට ද ලෙන් ලිපිවලින් තොරතුරු හෙළිවේ. රජ කුමරුවන් 'අය' යන අභිධානයෙන් සහ රජ කුමරියන් 'අබි' යන අභිධානයෙන් ආමන්ත්‍රණය කරන්නට ඇති බවට ලෙන් ලිපි දෙස අවධානය යොමු කළ පරණවිතාන මහතා දක්වයි (I.C, Vol-I, p. lxvi - lxvii). නිදසුනක් මෙසේය.

"දෙවනපිය- මහරඣහ ගමණි - අබයහ ඣිත අබි - අනුරිදිය පරුමක - රකි -ඣය - ලෙණෙ"

(I.C, Vol-I, No:994, p. 78)

රාජකීයන් අතර සිදු වූ විවාහවලට අමතරව සමාජය තුළ පරුමක, ගමික තත්ත්වයෙහිලා මෙන්ම සාමාන්‍ය සමාජ ස්තරවල ජීවත් වූ දියණිවරුන්ගේ ද විවාහයන් ක්‍රමානුකූලව සිදුවන්නට ඇති බව ලෙන් ලිපි සාධක ඔස්සේ සිතිය හැකිය.

තවද පවුල් සංස්ථාව තුළ මෙන්ම සමාජය තුළ ද දුවණියකට අධ්‍යාපනික වශයෙන් හිමිවිය යුතුව පැවති සමානාත්මතාව මෙන්ම අයිතිවාසිකම් ද සාධාරණ අයුරින් හිමිවන්නට ඇති බව ලෙන් ලිපි කෙටවීම සම්බන්ධයෙන් සිතිය හැකිය. ඒ හැරුණුකොට ආර්ථික වශයෙන් ද දියණියකට සමාජය තුළ පුත්‍රයන්ට හා සමාන ස්වතන්ත්‍ර බවක් හිමිව තිබූ බව ලෙන් පූජා කිරීම පිළිබඳව විමසීමේ දී පෙනීයයි. කෙසේදයත් සතර දෙසින් වැඩම කරන ලද සංඝයා වෙනුවෙන් දියණියන් ලෙන් තනා පූජා කළ බව ලෙන් ලිපිවලින් අනාවරණය වීම තුළිනි. මෙහිදී හෙළි කරගත හැකි තවත් වැදගත් කරුණක් වනුයේ රාජකීය දියණියන්ගේ සිට සමාජය තුළ විසූ අන්‍ය ජනයාගේ දියණියන් ද ලෙන් පූජා කර තිබීමයි. මෙහිලා නිදසුන් කීපයක් මෙසේය.

"ගමණි - පුතෙ රඣ - උති රඣ - උති - පුත අය අබයශ ඣිත අබි අනුරදිය"

(I.C, Vol-I, No:550, p. 42)

"දිපරඣ - ඣිතය මහබිය ලෙණෙ ශගශ"

(I.C, Vol-I, No:37, p. 4)

"පරුමක - රෙතහ ඣය පරුමක - නගුලි - ඣිත පරුමකලු - දිපනිය ලෙණෙ ශගශ දිනෙ"

(I.C, Vol-I, No:260, p. 21)

"බඩගරික - ගමික - අනුඩිය ඣිත උපශික - තිශය ලෙණෙ ශගශ"

(I.C, Vol-I, No:39, p. 4)

මින් ගම්‍ය වන්නේ එවක සමාජයෙහි විසූ දියණියන්ට මුදල් පරිහරණය කරමින් තමාට කැමති ලෙසකට කටයුතු කිරීමේ හැකියාවක් එනම්, පුත්‍රයන්ටසේම ආර්ථික වශයෙන් සම තත්ත්වයක් හිමි වූ බවයි.

එසේම ආගමික නිදහස ද දියණිවරුන්ට පවුල් සංස්ථාව තුළින් හිමිකර දී තිබූ බව ලෙන් පූජා කිරීම ඔස්සේත් ආගමික කටයුතු කෙරෙහි අනුග්‍රහය දක්වා තිබීමෙනුත් මනාව පැහැදිලි වේ.

කෙසේවුවත් බ්‍රාහ්මීය ලෙන් ලිපිවලට අනුව එවක සමාජයෙහි දියණිවරු කෙරෙහි පැවති තත්ත්වය වූ කලී භාරතීය බ්‍රාහ්මණ සමාජය තුළ මෙන් නොව බෞද්ධාගමානුකූල සමාජය ඔස්සේ දියණියක වශයෙන් කාන්තාවට සමාජය තුළ සෑම අංශයකින්ම පුත්‍රයා හා සමාන ස්වාධීනත්වයක් හිමිව තිබූ බව අනාවරණය කරගත හැකිය.

**භාර්යාවක් වශයෙන්**

පවුල් සංස්ථාවක සාර්ථක පැවැත්ම උදෙසා අඹු - සැමි දෙපාර්ශවයේ ක්‍රියාකාරිත්වය ඉතා වැදගත් වේ. බ්‍රාහ්මණ සමාජය තුළ භාර්යාවක් වශයෙන් පවුල් ඒකකය තුළ කාන්තාවට හිමි විය යුතු ස්වාධීනත්වය හීනව ගිය බවක් දැකිය හැකිය. කෙසේදයත් කුඩා අවධියෙහි ඇයගේ පියා යටතේ ද තරුණ අවධියෙහි සැමියා යටතේ ද මහලු අවධියෙහි ඇයගේ පිරිමි දරුවා යටතේ ද විසිය යුතු බවත් ස්ත්‍රිය ස්වාධීන ජීවිතයකට නුසුදුසු බවත් මනුස්මෘතිය තුළ වේ (මනුස්මෘතිය සහ මානව ශිෂ්ටාචාරය (2001), ආරියදාස සෙනෙවිරත්න, එස්. ගොඩගේ සහ සහෝදරයෝ, කොළඹ 10, පි. 240). ඒ ඔස්සේ මනාව විශද වන්නේ ගෘහ ජීවිතය තුළ ද කාන්තාවට තිබූ ස්වධීනත්වය අහිමිව ගිය බවකි. මෙබඳු තත්ත්වයක් බ්‍රාහ්මණ සමාජය තුළ පැවතිය ද බුදු සමයේ ප්‍රගමණයත් සමඟ එකී අදහස්වල යම් යම් වෙනස්කම් මතු විය. එනම්, මෙහිදී ගෘහ ජීවිතය තුළ කාන්තාවට ස්වාධීනත්වය සෑම අංශයකින්ම හිමිවන්නට විය. මෙහිලා නිදසුනක් වශයෙන් සිගාලෝවාද සූත්‍රයෙහි සඳහන් වන අඹු - සැමි යුතුකම් දැක්විය හැකිය (සිංහල දීඝනිකාය (2004), නිවන්දම ධම්මකීර්ති හිමි සහ තවත් අය (පරි.), බෞද්ධ සංස්කෘතික මධ්‍යස්ථානය, දෙහිවල, පි. 452). මෙහිදී ස්වාමියා විසින් බිරිඳට ඉටු කළ යුතු යුතුකම් පහ මෙසේය.

- ගරු කිරීම.
- අවමන් නොකිරීම.
- පරඅඹුවන් කරා නොයාම.
- නිවසේ වැඩ කටයුතු පැවරීම.
- අවශ්‍යතා ඉටුකිරීම.

බුදු සමය මෙලෙස කාන්තාවට පවුල් ජීවිතය තුළ දී හිමිවිය යුතු අයිතිවාසිකම් ලබාදීමට කටයුතු කළ බව පෙනීයයි.

බ්‍රාහ්මීය ලෙන් ලිපි ගත්කල ඒ ඔස්සේ භාර්යාවක් වශයෙන් සමාජය තුළ කාන්තාවට හිමි වන තත්ත්වය විමසා බැලීම වැදගත්ය. එහිදී ප්‍රථමයෙන්ම කාන්තාවට හිමි වූ ආගමික සහනශීලිත්වය සහ

ආර්ථික තත්ත්වය පිළිබඳ අවධානය යොමු කරමු. උක්ත කාලවකවානුවට අයත් ලෙන් ලිපිවලට අනුව විවාහයෙන් පසුව ද කාන්තාවට ස්වාධීනත්වයෙන් යුක්තව ආගමික කටයුතුවල නිරතවීමේ අවකාශය හිමිව තිබූ බව ලෙන් පූජා කිරීම තුළින් ගම්‍ය වේ.

එසේම රාජකීයන්ගේ භාර්යාවන් මෙන්ම සමාජය තුළ ජීවත් වූ විවිධ පන්තීන්ට අයත් භාර්යාවන්ට ද ලෙන් පූජා කිරීමේ හැකියාව හිමිව තිබූ බවට ලෙන් ලිපි සාක්ෂි දරයි. එහිලා නිදසුන් කීපයක් මෙසේය.

"මහරඣහ ගමණි - තිශශ බරිය උපශික - කිතකය ලෙණෙ ශගශ"

(I.C, Vol-I, No:4, p. 2)

"ගමික - උදයහ ඣය උපශික - තිශය ලෙණෙ ශගශ"

(I.C, Vol-I, No:27, p. 3)

"1. පරුමක පලිකදස බරිය

2. පරුමක ශුරකිත ඣිත උපශික චිතය ලෙණෙ ශගශ චතුදිශ"

(I.C, Vol-I, No:79, p. 6)

"නඩ - තිශහ බරිය පරුමකලි හුමනය ලෙණෙ"

(I.C, Vol-I, No:910, p. 71)

"උපශක - නගමිතහ බරියය උපශික - ශිලය ලෙණෙ ශගශ"

(I.C, Vol-I, No:23, p. 3)

"1. අණිකට ශොණ පිතහ බරිය (උ)පශික ති(ශ)ය ලෙණෙ

2. අගත අනගත චතුදිශ ශගශ"

(I.C, Vol-I, No:77, p. 6)

බ්‍රාහ්මීය ලෙන් ලිපි අනුව පෙනීයන තවත් වැදගත් කරුණක් වනුයේ ස්ත්‍රිය විවාහයට පත් වුවද ගෘහ ජීවිතය ගත කරන අවස්ථාවේ දී පවා ස්වාමිපුරුෂයාගෙන් ඇයට ස්වාධීනත්වය හිමිව තිබූ බවයි. කෙසේදයත් ලෙන් පූජා කිරීමට තරම් අවකාශය මෙන්ම මුදල් භාවිතා කිරීම ද යනාදී ආර්ථික කටයුතුවල නිරත වී ඇති හෙයින් ඒ බව මනාව පෙනීයයි. තවද පවුල් සංස්ථාවම ලෙන් පූජා කළ බවත් එහිදී කාන්තාව වෙන්කර තැබීමක් නොකළ බවටත් ලෙන් ලිපි සාක්ෂි දරයි.

"පරුමක - දතකහ උපසික - දමය ච පුත සිවලිය ච පුත නකලිය ච පුත තිසහ ච පුත දෙවහ ච ලෙණෙ සසස"

(I.C, Vol-I, No:1201, p. 97)

ලෙන් ලිපිවලට අනුව එවක සමාජය තුළ කාන්තාවට සිය සැමියාගේ මෙන්ම සමාජගත සියලු බැඳීම්වලින් රැහැන්ගත නොවී රිසි සේ කටයුතු කිරීමේ ස්වාධීනත්වය හිමිව තිබූ බව විශද වේ. බ්‍රාහ්මීය ලෙන් ලිපි අනුව කාන්තාවගේ විවාහය සම්බන්ධයෙන් විමසුමට ලක් කිරීමේ දී රජුන් රාජකීය කාන්තාවන් පමණක්ම විවාහ කරගත් බවක් නොපෙනේ. කෙසේදයත් කොසවකන්දෙන් ලැබුණු ලිපියක ගමණි අබය මහ රජුගේ භාර්යාව 'කති' ලෙස සඳහන් කර ඇත. එනම්,

"මහරඣහ ගමණි - අබයහ දෙවනපියශ රමණි - බරිය මිලක තිශ - විහරෙ කාරිතෙ කතිය"

(I.C, Vol-I, No:193, p. 16)

'කති' යන නාමයෙන් යුත් කුමරියක් පිළිබඳව වංසකතාවල දක්නට නොලැබේ. ඇය බිසොවක, රැජනක හෝ දේවියක හෝ ලෙස නොව බිරිඳක වශයෙන් හඳුන්වා තිබෙනුයේ ඇය රජු හා සම කුල වූ රාජකීය කාන්තාවක නොවූ බැවින් බව පැහැදිලිය. බිරිය යන්නට වඩා ඉහළ යෙදුමක් සඳහා කුලය හේතුවෙන් වරම් නොලැබුණ ද 'මහරජුගේ බිරිය' යනුවෙන් ප්‍රසිද්ධ සටහනක් තැබීමට තරම් වූ නෛතික බලයක් හෙවත් විවාහ අයිතියක් ඇයට තිබූ බව නිසැකය (අලවත්තගේ ශ්‍රී ප්‍රේමදාස (2007), පැරණි සිංහල විවාහ සංස්කෘතිය, එස්. ගොඩගේ සහ සහෝදරයෝ, කොළඹ 10, පි. 115).

රජුන්ගේ භාර්යාවන් පිළිබඳව ද හෙළිවේ. එහිලා නිදසුනක් පහත පරිදි දැක්වීමට පුළුවන.

"පොචනි - රඣ නගයහ ඣය බමණ - කොඣර - ඣිතය උපශික - දතය ලෙණෙ"

(I.C, Vol-I, No:814, p. 63)

එවක කුමාරවරුන්ට අන්තඃපුරයක් තිබූ බවත් එහි සිටි කතුන්ට ද ලෙන් පූජා කිරීමේ අයිතිය, නිදහස තිබූ බවත් හෙළිවේ.

"චෙමගමශි පටකෙ අය - දුහතර - පුත අය ශිවශ ඔරිදික උපශික - වෙලුය ලෙණෙ අගත - අනගත - චතුදිශ ශගශ දිනෙ මනපදශනෙ"

(I.C, Vol-I, No:795, p. 61)

"මහරජහ පුත තිසයහ බරියන ලෙණෙ සවතොහදෙ අගත - අනගත - චතුදිශ සසස"

(I.C, Vol-I, No:1028, p. 80)

එපමණක්නොව බ්‍රාහ්මීය ලෙන් ලිපිවලට අනුව එවක සමාජය තුළ පවුල් සංස්ථාවෙහි දී ස්වාමියා සහ භාර්යාව අතරෙහි දෘඩ සම්බන්ධයක් පැවති බවට පෙනීයයි. එහිලා නිදසුන් කීපයක් මෙසේය.

"රඣ - නග - ඣිත රඣ - උති - ඣය අබි - අනුරදි ච රඣ - උති ච කරපිත ශෙ ඉම ලෙණ චතුදිශශ ශගශ අගතගතන පශු - විහරයෙ අපරිමිත - ලොකදතුය ශතන ශිත - ශුකයෙ"

(I.C, Vol-I, No:338, p. 27)

උක්ත ලෙන් ලිපියට අනුව රාජකීය පවුල් පසුබිම තුළ අඹු - සැමියන් අතර මෙබඳු සහයෝගයක් පැවතියේ නම් එවක සමාජයෙහි විසූ සාමාන්‍ය ජනයාගේ ජීවන රටාව කෙසේ සකස් වූයේ ද යන්නත් ඒ ඔස්සේ සිතාගැනීමට පුළුවන. මෙහිලා ද නිදසුන් කීපයක් පහත පරිදි දැක්විය හැකිය.

"උපශක - වෙලුශ ලෙණෙ උපශික - තිශය ලෙණෙ ගමණි - අබයශ රඣශි ශගශ දිනෙ"

(I.C, Vol-I, No:672, p. 50)

"ගණක - රකිය උපශික - තිශය අඝත - අනගත - ශගශ"

(I.C, Vol-I, No:673, p. 51)

"උපශක - උතරශ ච උපශික - තිශය ච ශදය ලෙණෙ"

(I.C, Vol-I, No:871, p. 67)

"චතුදිසික- සගයෙ නියතෙ පරුමක - පුසභ ලෙණෙ උපසික - සොණය ලෙණෙ"

(I.C, Vol-I, No:1173, p. 93)

ඊට අමතරව විවිධ රජවරුන්ගේ රාජ්‍යය කාලයන්හිදී එවක සමාජයේ ජීවත් වූ භාර්යාවන්ට කාන්තාවක් වශයෙන් ලෙන් පූජා කිරීමේ ස්වතන්ත්‍රතාවය හිමිව තිබූ බව ඇතැම් ලෙන් ලිපිවලින් හෙළිවේ. එනම්,

"පරුමක - පුශදෙවශ ඣය පරුමකල - ශොණය ලෙණෙ නගයහ රඣියහි කටෙ ශගශ"

(I.C, Vol-I, No:736, p. 55)

"පචින - රඣ පුත - තිශ - අයහ බරිය උපශික - රකිය ලෙණෙ අගත - අනගත - චතුදිශ ශගශ"

(I.C, Vol-I, No:832, p. 64)

බ්‍රාහ්මීය ලෙන් ලිපි දෙස විමසුමට ලක් කිරීමේ දී එවක විසූ කාන්තාව භාර්යාවක් වශයෙන් ස්වාමිපුරුෂයා හා සමාන තත්ත්වයක් හිමිකරගත් බව අවධාරණය වේ.

**මවක් වශයෙන්**

පවුල් සංස්ථාව තුළ වැදගත්ම නිර්ණායකය වන්නේ මවයි. බ්‍රාහ්මණ සමාජය තුළ මවකට හිමිවිය යුතු සමාජමය වටිනාකම අහිමිකර දැමූ බවක් විශද කෙරේ. එනමුත් බුදුදහමේ ප්‍රගමනයත් සමඟ කාන්තාවට මවක් වශයෙන් උසස් තත්ත්වයක් හිමි කර දී ඇත. බුදුදහම තුළ මව්පියන් 'බ්‍රහ්ම', 'පූර්වාචාර්ය', 'පූර්වදෙව' සහ 'ආහුනෙය්‍ය' යනාදී නාමයන්ගෙන් හඳුන්වා තිබෙන බව සබ්‍රහ්ම සූත්‍රයෙන් හෙළිවේ (අංගුත්තරනිකාය II (1962), බෞද්ධ සංස්කෘතික මධ්‍යස්ථානය, දෙහිවල, පි. 132). ඒ හැරුණුකොට දෙමාපියන් විසින් දරුවන්ට ඉටු කළ යුතු යුතුකම් පහක් වේ.

- මනාව පෝෂණය කිරීම.
- හොඳ නරක කියාදීම.
- සුදුසු කල ආවාහ විවාහ කරදීම.
- දායාද පවරා දීම.
- ශිල්ප ලබාදීම.

එසේම දරුවන් විසින් දෙමාපියන්ට ඉටු කළ යුතු යුතුකම් මෙසේය.

- මහලු කල පෝෂණය කිරීම.
- උපස්ථාන කිරීම.
- දායාද ආරක්ෂා කිරීම.
- කුලසිරිත් ආරක්ෂා කිරීම.
- මියගිය කල පිංපෙත් අනුමොදන් කිරීම.
  (සිංහල දීඝනිකාය (2004), නිවන්දම ධම්මකීර්ති හිමි සහ තවත් අය (පරි.), බෞද්ධ සංස්කෘතික මධ්‍යස්ථානය, දෙහිවල, පි. 451)

මෙකී යුතුකම් විචක්ෂණශීලීව අධ්‍යයනය කිරීමේ දී මනාව පැහැදිලි වන්නේ ක්‍රි.පූ 3 - ක්‍රි.ව 1 යන කාලවකවානුවට අයත් බ්‍රාහ්මීය ලෙන් ලිපිවලින් ද එවක සමාජයෙහි විසූ කාන්තාවට මවක් වශයෙන් ඉටුකළ යුතු යුතුකම් ඉටු කළා සේම එම සමාජයෙහි දරුවන් විසින් ද මාපියන්ට යුතුකම් ඉටු කිරීමෙහිලා උත්සුකව කටයුතු කරන ලද බවයි. එහිලා නිදසුනක් ලෙස පහත ලෙන් ලිපි දැක්වීමට පුළුවන. එනම්,

"තිස - තෙර කටු දිනෙ මත - පිතයෙ අයද - අබහ මරුමකනක ගමික - සුමහ ලෙණෙ"

(I.C, Vol-I, No:1142, p. 90)

"1. ගමණි - උති - මහරඣහ ඣිතබි - තිශය ලෙණෙ දශ දිගශ සගයෙ දිනෙ

2. මත - පිතශ අටය"

(I.C, Vol-I, No:34, p. 3)

මෙකී බ්‍රාහ්මීය ලිපිවලින් පෙනීයන්නේ එවක සමාජය තුළ මාපිය යුතුකම් මනාව ක්‍රියාත්මක වන්නට ඇති බවයි. එසේම මවක් වශයෙන් කාන්තාවට එවක සමාජය තුළ උසස් පිළිගැනීමක් ද තිබෙන්නට ඇති බව පැහැදිලි වේ.

මවක් වශයෙන් කාන්තාවට සමාජය තුළ මෙන්ම පවුල් සංස්ථාව තුළ ද සුවිශාල වූ ගෞරවයක් ස්වාධීනත්වයක් හිමිව තිබූ බව ආගමික, ආර්ථික කටයුතු විමසුමට ලක් කිරීමේ දී පෙනීයයි. ඒ අනුව බ්‍රාහ්මීය ලෙන් ලිපිවලට අනුව එවකට දරුවන් සම්බන්ධව වගකීම් බහුලව පැවරී තිබුණ ද ගෘහ ජීවිතය තුළ දී ඉටුවිය යුතු යුතුකම් සියල්ල නොපිරිහෙලා ඉටුකිරීමට එවක සමාජයෙහි දිවි ගෙවූ කාන්තාව සමත්ව තිබූ බවට ලෙන් ලිපි සාක්ෂි දරයි.

ඒ හැරුණුකොට මවක් වශයෙන් ද පවුල් සංස්ථාව තුළ ආගමික කටයුතුවල නිදහසේ නිරතවීමේ අවකාශය කාන්තාවට හිමි වී තිබූ බව කරුණු විමසීමේ දී පෙනීයයි. මෑණිවරුන් විසින් ලෙන් පූජා කළ බව බ්‍රාහ්මීය ලෙන් ලිපිවලින් හෙළිවීම එහිලා නිදසුන් සේ දැක්වීමට හැකිය. එනම්,

"චුඩ - ශොණහ මත උපශික රකිය ලෙණෙ"

(I.C, Vol-I, No:71, p. 5)

"උපශික - තිශය ලෙණෙ දිතහ මත ශගශ"

(I.C, Vol-I, No:233e, p. 19)

"අති - අජරිය - බතිය මත උපශික - නගය"

(I.C, Vol-I, No:112, p. 9)

"පරුමක - ගොඩහ මරුමකනක උතලිය - මතය උපසික - හුමනය ලෙණෙ"

(I.C, Vol-I, No:1127, p. 89)

"නාවිකහ මතය උපසික - සමණිය ලෙණෙ චතුදිස - සඝ පතිඨපිතෙ"

(I.C, Vol-I, No:1131, p. 89)

භික්ෂුත්වයට පත් වූ තෙරුන්ගේ මාතාවන් ද ලෙන් පූජා කළ අයුරු හෙළිවේ. නිදසුන් කීපයක් මෙසේය.

"විනයදර - පුශතෙරහ මතය උපශික - ශිවලය ලෙණෙ සඝය නියතෙ දෙවරමණෙ නම"

(I.C, Vol-I, No:1178, p. 94)

"රකිත - තෙරහ මතය උපසික සිරලය ලෙණෙ චතුදිසික සඝයෙ නියතෙ"

(I.C, Vol-I, No:1181, p. 94)

මෙකී ලෙන් ලිපිවලින් පෙනීයන තවත් කරුණක් වනුයේ රාජකීය මාතාවන්සේම සමාජය තුළ වාසය කරන විවිධ වෘත්තීන්හි නියැලුණු අයගේ මව්වරුන් ද කිසිදු භේදයකින් තොරව ආගමික කටයුතුවල නියැලුණ බවත් ඒ උදෙසා අවශ්‍ය නිදහස කාන්තාවට මවක් වශයෙන් හිමිව තිබූ බවත්ය.

එපමණක්නොව මෙහිලා විශදවන වැදගත් කරුණක් වශයෙන් එවක මව්වරුන්ට ද ගෘහ ජීවිතය තුළ දී තමන්ට අවැසි අයුරින් ආර්ථික කටයුතුවල නිරතවීමේ ස්වාධීනත්වය පැවති බවයි. කෙසේදයත් ලෙන් පූජා කිරීමේ දී කාන්තාවන්ට ඒවා ඉදිකරලීමට අවශ්‍යවන්නා වූ ආර්ථිකමය ශක්තිය කිසිදු අවහිරයකින් තොරවම ඔවුන්ට හිමිව තිබූ බව බ්‍රාහ්මීය ලෙන් ලිපි අධ්‍යයනය කිරීම තුළින් ගම්‍ය වන කරුණකි. රිටිගල - නාඋල්පොත ලෙන් ලිපියට අනුව දරබතික තෙරුන්ගේ මව්පියන් මෙකී ලෙණෙහි ජ්‍යෙෂ්ඨ අනුග්‍රහකයෝ බව සඳහන්ය. ඒ බව මෙසේ දැක්විය හැකිය.

"දරබතික - තිරහ මත - පිත ය ලෙණ - ජෙටුහ උපසක - දතහ ලෙණෙ සගය නියතෙ"

(I.C, Vol-I, No:1162, p. 92)

ඒ තුළින් පෙනීයන්නේ දෙදෙනාටම ආර්ථිකමය, ආගමික සහයෝගයෙන් කටයුතුවල නිරතවීමේ අයිතිය තිබූ බවත් ඒ අනුව ක්‍රියාකළ බවත්ය.

කෙසේවෙතත් එවකට කාන්තාවට සමාජය තුළ මවක් ලෙස ක්‍රියාකිරීමේදී අධ්‍යාපනික අංශය ඔස්සේ ද නිදහස තිබෙන්නට ඇති බව ලෙන් ලිපි කෙරෙහි අවධානය යොමුකිරීමෙන් සිතිය හැකිය.

බ්‍රාහ්මීය ලිපිවලට අනුව දරුවන් කෙරෙහි දැඩි සෙනෙහසකින් මව්වරුන් කටයුතු කරන්නට ඇති බවත් ඇයට සෑම අංශයකින්ම ස්වතන්ත්‍ර බව හිමිව තිබූ බවත් හෙළිකරගත හැකිය.

**භික්ෂුණියක් වශයෙන්**

කාන්තාව වනාහි අපිරිසිදු, දුර්වල, මුග්ධ තැනැත්තියක් වශයෙන් බ්‍රාහ්මණ අවධියේ සැලකුව ද ඇය වූ කලී පුරුෂයා හා සමාන විදග්ධ ඥානයකින් හෙබි තැනැත්තියක් බවට බුදුදහම පිළිගෙන ඇත. ඒ අනුව භික්ෂූන් හා සම තත්ත්වයක් භික්ෂුණීන්ට උදාකරලීමට බුදුදහම ඔස්සේ කටයුතු කර ඇත. එහිලා නිදසුන් වශයෙන් භික්ෂූන්ට ඔවුන්ගේ දක්ෂතාවය පදනම් කරගනිමින් තනතුරු ලබාදුන්සේම භික්ෂුණීන්ට ද ස්වකීය හැකියාව මත තනතුරු පිරිනැමීම දක්වාලීමට හැකිය.

එපමණක්නොව බුද්ධ දේශනාවන්ට අනුව හැම තැනදීම පුරුෂයා නැණවතෙක් නොවන බවත් ඒ ඒ තැන්හිදී ස්ත්‍රිය ද ප්‍රඥාවන්ත බවත් දක්වා ඇත (ථෙරිගාථා අට්ඨකථා (1999), සේනානායක ජී.එස්.බී. (පරි.), ශ්‍රී ලංකා රාජකීය ආසියාතික සමිතිය, පි. 101). එහිලා නිදසුන් බෞද්ධ සාහිත්‍යයෙන් හෙළිකරගත හැකිය. ඒ අනුව සුභා තෙරණිය පිළිබඳ පුවත විමසීමේදී ඇය භික්ෂුණීත්වයට පත්ව සිටින අවස්ථාවේදී කෙලෙස් ඇතිවීම වැලැක්වීමේ එකම උපාය සිය දෑස උගුළුවාදීම බව වටහාගත් හෙයින් එසේ ක්‍රියාකර ඇත. ඒ තුළින් ඇයගේ දුරදක්නා නුවණ, දැඩි භක්තිය හා අපූර්ව ආත්ම ශක්තිය හෙළිවන බව සඳහන්ය (වික්‍රමසිංහ මාර්ටින් (1991), තේරි ගී සහ කාව්‍ය විචාරය, සීමාසහිත තිසර ප්‍රකාශකයෝ, දෙහිවල, පි. 30).

ඊට අමතරව භික්ෂුණියගේ බුද්ධි මහිමය විදහාපාන අවස්ථාවක් වශයෙන් විශාඛ නම් උපාසකගේ ප්‍රශ්න ධම්මදින්නා තෙරණිය විසින් නිරාකරණය කිරීම නිසා බුදුන්වහන්සේ විසින් ඇයව 'පණ්ඩිත භික්ෂුණියක්' වශයෙන් පැසසුමට ලක් කළ බව හෙළිවීම දැක්විය හැකිය (ථෙරිගාථා අට්ඨකථා (1999), සේනානායක ජී.එස්.බී. (පරි), ශ්‍රී ලංකා රාජකීය ආසියාතික සමිතිය, පි. 19). ථෙරිගාථා විමර්ශනයේදී භික්ෂුණියක් වශයෙන් කාන්තාවට උරුම වූ නිදහස සහ ගෞරවය මනාව හෙළිකරගත හැකි අතර එකී තත්ත්වයන් බ්‍රාහ්මීය ලෙන් ලිපි ඔස්සේ ද කාන්තාව සම්බන්ධයෙන් ගොඩනගා ගෙන තිබූ බව ලෙන් ලිපි දෙස අවධානය යොමු කිරීමේ දී පෙනීයයි.

කිසියම් වූ සමාජයක ආගමික ඉතිහාසය ඉතා වැදගත්කමක් උසුලයි. එහෙයින් බ්‍රාහ්මීය ලෙන් ලිපි ඔස්සේ එවක පැවති ආගමික පසුබිම තුළ කාන්තාවට හිමිව තිබූ තත්ත්වය කෙසේවූයේදැයි විමසීමට ලක් කළ හැකිය. ක්‍රි.පූ 3 - ක්‍රි.ව 1 යන සියවස්වලදී ලංකා සමාජයෙහි පැවති ආගමික තත්ත්වය

වූ කලි බුද්ධාගම පසුබිම් කරගත්තක් වූ බවට ලෙන් ලිපි සාක්ෂි දරයි. එහිලා රජගල ලිපිය ප්‍රධාන වශයෙන් දැක්වීමට පුළුවන.

"යෙ ඉම දිප පටමය ඉදිය අගතන ඉඩික - තෙර - මහිද - තෙරහ තුබෙ"

(I.C, Vol-I, No:468, p. 35)

මහින්දාගමනයෙන් අනතුරුව කල්යාමත් සමඟ සිදු වූ දුමින්දාගමනය හේතුකොටගෙන භික්ෂුණී ශාසනය ඇතිවීමට මංපෙත් විවර විය. මින් පසුව භික්ෂු, භික්ෂුණී, උපාසක, උපාසිකා යන සිව්වණක් පිරිස එම සමාජයෙහි ඇති විය. කාන්තාවට ද ඒ ඔස්සේ හිමිව තිබූ තත්ත්වය ලෙන් ලිපිවලින් හෙළිකරගත හැකිය. ලෙන් ලිපිවලට අනුව සංඝ සමාජයට නවකයන් පුහුණු කර බඳවා ගැනීමේ පිළිවෙලක් තිබෙන්නට ඇත. එසේම ඇතැම් තෙරවරුන් ත්‍රිපිටකයේ යම් යම් ග්‍රන්ථ ඉගෙන සිටි බවත් හා ඒ අනුසාරයෙන් ධර්මය දේශනා කළ බවටත් දඹුල්ල සහ මියුගුණා-වෙහෙර යන ලිපිවලින් පෙනීයයි.

"එක - උතිරික - බණක පුශදෙව - තෙරහ මනොරමෙ"

(I.C, Vol-I, No:407, p. 32)

"තිශගුත - තෙරහ ශදිවිහරිය බත - මඣිම - බණක - තිශහ ලෙණෙ ශුදශනෙ අගත - අනගත - චතුදිශ - ශගශ"

(I.C, Vol-I, No:852, p. 66)

ලෙන් ලිපිවල "ශමණි" යනුවෙන් මෙහෙණින්වහන්සේ හඳුන්වා ඇති බව දැකගත හැකිය. භික්ෂුණීන් සම්බන්ධයෙන් ගත්කල භික්ෂුණීන් ධර්මය දේශනා කළ බවක් පිළිබඳව ලෙන් ලිපි මගින් හෙළිකරගත නොහැකි තරමය.

එපමණක්නොව බ්‍රාහ්මීය ලෙන් ලිපි ගත්කල ඒ තුළින් භික්ෂුණීන් කීපදෙනෙකු පිළිබඳව පමණක් සඳහන් ඇති බව හෙළිකරගත හැකිය. එහිලා නිදසුන් කීපයක් මෙසේය.

"තිශ - ශමණිය ලෙණෙ ශගශ"

(I.C, Vol-I, No:8, p. 1)

"කණගම - රඣශ තිශහ ඣිත ශවෙර - ශමණිය ලෙණෙ ශගශ"

(I.C, Vol-I, No:14, p. 2)

"යහශිනි - ශමණිය ලෙණෙ අගත - අනගත - චතුදිශ - ශගශ"

(I.C, Vol-I, No:89, p. 7)

"......සමණි - පලය ච අශ - දම - ගුතහ ච .... රහ ච"

(I.C, Vol-I, No:159, p. 13)

"ශුමන - සමණිය ලෙණෙ චතුදිශ - ශහශ"

(I.C, Vol-I, No:161b, p. 13)

"බත - ශුමන රකි - ශමණිය ලෙණෙ"

(I.C, Vol-I, No:224, p. 18)

"පරුමක - පශුදවෙල - ඣිතය රොහණි - සමණිය ලෙණෙ ශගශ නියතෙ"

(I.C, Vol-I, No:332, p. 26)

"තිශ - ශමණිය ලෙණෙ"

(I.C, Vol-I, No:482, p. 37)

"මහතිශ .... ශමණිය ලෙණෙ ශගශ"

(I.C, Vol-I, No:483, p. 37)

"ශෙනපති - පරුමක පුශදෙවහ ඣිත නග - ශමණිය මහ ලෙණෙ ශගශ"

(I.C, Vol-I, No:725, p. 55)

".............. මචක - ශමණිය ලෙණෙ ශගශ ඉම ලෙණහ ශතඩ ධන - ලබෙ"

(I.C, Vol-I, No:857, p. 66)

"ගමික - මිතපලශ ඣිත රෙවති - සමණිය ලෙණෙ"

(I.C, Vol-I, No:969, p. 76)

මෙහි No: 8 හා No: 482 දරණ ලිපිවල සඳහන් තිස්ස මෙහෙණිය වූ කලි එකම නාමයෙන් යුත් මෙහෙණියන් දෙදෙනෙකු ද නැතහොත් එකම මෙහෙණියක ද යන්න නිශ්චිතව කීමට තරම් ප්‍රමාණවත් සාක්ෂි නොමැත. කෙසේවුවත් මෙහෙණියන් ඉතා අඩු ප්‍රමාණයක් එවක සමාජය තුළ වාසය කරන්නට ඇති බව ලෙන් ලිපි අනුව සිතිය හැකිය. ඊට හේතුවන්නට ඇත්තේ බුදුදහම හඳුන්වාදීමේ ආරම්භක අවස්ථාව වීම යැයි අනුමාන කළ හැකිය. කෙසේවුවත් එවක සමාජය තුළ පුරුෂයන්ට හා සමාන තත්ත්වයක් කාන්තාවට හිමිව තිබූ බවට හොඳම නිදසුන වන්නේ කාන්තාව පැවිදිබිමට පත්ව තිබූ බවට ලෙන් ලිපිවලින් හෙළිවීමයි. එසේම භික්ෂූන් උදෙසා වැඩි ප්‍රමාණයක් ලෙන් පූජා කළ බව පෙනීයාමෙන් ද සිතිය හැක්කේ භික්ෂුණීන් ප්‍රමාණය අඩු වූ බවයි.

කෙසේවුවත් එවක සමාජය තුළ බෞද්ධාගමික කටයුතුවලට නැඹුරු ජන කොටසක් සිටි බවත් ආගමික කටයුතුවල නිරතවීමට පුරුෂයාට හා සමාන ස්වාධීනත්වයක් කාන්තාවට හිමිව තිබූ බවත් ලෙන් ලිපි අනුව පැහැදිලි වේ.

**උපාසිකාවක් වශයෙන්**

ලෙන් ලිපි සාධකවලට අනුව එවක සමාජය තුළ ජීවත්වූ කාන්තාව උපාසිකාවක් වශයෙන් කටයුතු කළ ආකාරය පිළිබඳව විමසා බැලීම වැදගත්ය. 'උපශික' යන නාමයෙන් උපාසිකාවන් ලෙන් ලිපවල දක්වා තිබෙනු අයුරු දැකිය හැකිය. භික්ෂු ශාසනයෙහි ආරම්භයත් සමග එහිලා අනුග්‍රහය දක්වන ලද පිරිස උපාසක, උපාසිකාවන් නම් විය. බ්‍රාහ්මීය ලිපිවලට අනුව එවක සමාජය තුළ උපාසකයන් විශාල ප්‍රමාණයක් උපාසිකාවන් විශාල ප්‍රමාණයක් ද භික්ෂූන්ට අනුග්‍රහය දක්වා ඇති බව පෙනේ. ඉන් විශද වන්නේ එවක පුරුෂයාටසේම කාන්තාවන්ට ද ආගමික කටයුතුවලට අනුග්‍රහය දැක්වීමට හැකියාව තිබූ බවයි. ඒ බව ගම්‍යවන්නේ බුදුන්වහන්සේගේ අවධියේ දී උපාසිකාවක් වශයෙන් කාන්තාවට සමාජය තුළ සුවිශේෂී ස්ථානයක් හිමිවීමෙනි. එහිලා නිදසුන් වශයෙන් විශාඛාව දැක්විය හැකිය. ඒ හැරුණුකොට බෞද්ධ සමාජය තුළ ඕනෑම කාන්තාවකට ස්වාධීනව ආගමික කටයුතුවල නියැලීමේ අවකාශය හිමි වූ බව කරුණුවලින් ගම්‍ය වේ. එකී පසුබිමක් ලංකාව තුළ සකස්ව තිබෙන්නට ඇති බව තවදුරටත් බ්‍රාහ්මීය ලෙන් ලිපි අධ්‍යයනයෙන් පෙනීයයි.

උපාසක තත්ත්වය ප්‍රකාශයට පත් කල රාජකීයන් ලෙන් ලිපිවලින් දැකගත නොහැකි තරම් වූවත් උපාසිකාභාවය ලෙන් ලිපි මගින් හුවා දැක්වූ කාන්තාවන් විශාල ප්‍රමාණයක් හෙළිකරගත හැකිය. මෙහිලා විශේෂත්වය වනුයේ රාජකීය තත්ත්වයන් ඉසිලූ කාන්තාවන්ගේ සිට සමාජය තුළ ජීවත් වූ සාමාන්‍ය කතුන් දක්වා එකී තත්ත්වය ඉසිලීමට අවකාශය හිමිව තිබීමයි. එහිලා නිදසුන් කීපයක් මෙසේය.

"දෙවනපිය - මහරඣහ බරියය බකිනිය උපශික වරුණදතය ලෙණ"

(I.C, Vol-I, No:2, p. 1)

"අති - අජරිය - බතිය මත උපශික - නගය"

(I.C, Vol-I, No:112, p. 9)

"උපශික - ශිරිපලිය ලෙණෙ අගත - අනගතන චෙදදශ ශගශ දිනෙ"

(I.C, Vol-I, No:316, p. 25)

"පරුමක - ශදනශ ඣය උපශික - ශුමනය ලෙණෙ"

(I.C, Vol-I, No:397, p. 31)

"දෙවනපිය - මහරඣ ගමිණි - තිශහ පුත මහ - අයහ ඣය උපශික - යහශිනිය ලෙණෙ"

(I.C, Vol-I, No:422, p. 33)

"තිශමහරඣහ - ශෙනපිතිය අභිදතහ බරියය ශෙනපිති - පරුමක - පුශදෙවහ ඣිතය උපශික - නගය ලෙණෙ ශගශ දිනෙ"

(I.C, Vol-I, No:724, p. 55)

එසේම පැවිදිබිමට පත්වූ භික්‍ෂූන්ගේ මාතෘවරුන් පවා ලෙන් පූජා කිරීම තුළින් උපාසිකා තත්ත්වයට පත්ව ඇති බව ලෙන් ලිපි අධ්‍යයනයෙන් පැහැදිලි වේ.

ඊට අමතරව බ්‍රාහ්මණයන්ගේ දියණියන් පවා උපාසිකා තත්ත්වයෙහිලා හැඳින්වූ බව හෙළිවේ.

"සිධ සිහස බමණහ ජිතය උපසික - දෙවය ලෙණෙ සගස"

(I.C, Vol-I, No:1111, p. 87)

මින් පෙනීයන්නේ ද එවක සමාජයෙහි කුල සම්බන්ධයෙන් මෙන්ම කාන්තාව සම්බන්ධයෙන් ද ගැටුම්කාරී තත්ත්වයන් උද්ගතව නොතිබූ බවයි. ඉහත කරුණුවලට අනුව කාන්තාවට උපාසිකාවක් වශයෙන් ආගමික කටයුතුවල ස්වාධීනව නිරතවීමේ අවස්ථාව කිසිදු බාධාවකින් තොරව හිමිකර දී තිබූ බව පෙනීයයි.

තවද උපාසිකාවක් වශයෙන් එවක සමාජය තුළ පුරුෂයන්ගේ සහය අපේක්‍ෂා නොකරමින් ලෙන් පූජා කිරීමෙහි නිරත වූ බව ද පෙනේ.

"උපශික ශොමලිය ලෙණෙ"

(I.C, Vol-I, No:140, p. 10)

එසේම උපාසිකාවන් තනිව ලෙන් පූජා කිරීම හැරුණුකොට පවුලේ සාමාජිකයන් සමඟ ද එක්ව ලෙන් පූජා කළ බවට හෙළිවේ. ඊට අමතරව උපාසිකාවන් ලෙන් ආශ්‍රිතව නිර්මාණයන් ඉදි කළ බව ද පෙනීයයි.

"උපශික තිශය පදගඩි"

(I.C, Vol-I, No:208, p. 17)

ලෙන් පූජා කිරීම මෙන්ම උපාසිකාවන් විසින් විහාර ඉදිකිරීම කෙරෙහි ද අවධානය යොමුකළ බව ගම්‍ය වේ.

"උපශික අනුඩිය උපශික චිතය ගමික - කඩශිව - පුතහ ගමික - තිශහ විශරෙ"

(I.C, Vol-I, No:161c, p. 13)

ඉහතින් දක්වන ලද කරුණු කාරණාවලට අමතරව බ්‍රාහ්මීය ලෙන් ලිපි ඔස්සේ කාන්තාව සම්බන්ධයෙන් තවත් වැදගත් තොරතුරු කීපයක් වේ. එනම්, එවක සමාජය තුළ 'පරුමක' හා 'ගහපති' වශයෙන් පෙනී සිටි පුද්ගලයන්ගේ දියණියන් හා භාර්යාවන් උදෙසා ද එකී නාමයෙහි ස්ත්‍රී ලිංග වචනය භාවිතා කළ බව ලෙන් ලිපිවලින් පෙනේ. ඒ අනුව පරුමක යන තත්ත්වය කාන්තාවන් උදෙසා 'පරුමකල', 'පරුමකලි', 'පරුමකලු' යනුවෙන් දක්වා තිබූ බවට නිදසුන් මෙසේය.

"පරුමක - පුශදෙවශ ඣය පරුමකල - ශොණය ලෙණෙ නගයහ රක්ඛියහි කටෙ ශගශ"

(I.C, Vol-I, No:736, p. 55)

"නඩ - තිශහ බරිය පරුමකලි හුමනය ලෙණෙ"

(I.C, Vol-I, No:910, p. 71)

එමෙන්ම ගහපති, ගපති යන විරුදයෙන් හැඳින්වූ පුද්ගලයන්ගේ එම නාමය කාන්තාව උදෙසා ද භාවිතා කරන්නට ඇති බවට සිතීමට තුඩුදෙන කරුණු හෙළිකරගත හැකිය. ඒ අනුව 'ගහපති' යන්නට ස්ත්‍රී ලිංග වචනය 'ගපතන' යන්න බව ලෙන් ලිපිවලින් පෙනේ. එහිලා නිදසුන් මෙසේය.

"ගපති - නට - චුඩහ ගපතන ශමුදය නට - චලුය ඣිත"

(I.C, Vol-I, No:1005, p. 78)

තවද එවක සමාජයෙහි පැවති නක්‍ෂත්‍ර කෙරෙහි විශ්වාස කළ පුද්ගලයන් විසින් ස්ත්‍රීන්ට ද ඊට අනුකූලව නාමයන් තැබූ බවට සිතිය හැකි කරුණු ලෙන් ලිපි කීපයකින් පෙනීයයි. එම නාමයන් කීපයක් ලෙසට රොහණි, රේවතී යනාදිය දැක්විය හැකිය. එහිලා නිදසුන් වශයෙන් එරුපොතාන (I.C, Vol-I, No:332, p. 26) සහ දාගම (I.C, Vol-I, No:969, p. 76) යන ලෙන් ලිපි දැක්වීමට පුළුවන.

ඊට අමතරව පොදුවේ ගත්කල ලෙන් ලිපි විමර්ශනයේ දී පෙනීයන්නක් වනුයේ ඇතැම් අවස්ථාවලදී කාන්තාවන් විසින් ඇයව ලෙන් ලිපිවල හඳුන්වන විට සිය පියා, ස්වාමියා හෝ පුත්‍රයාගේ හැඳින්වීමකින් පසුව හඳුන්වා තිබීමයි. මෙම කරුණ ඔස්සේ එවක සමාජය තුළ පුරුෂයාට, කාන්තාවට වඩා උසස් තත්ත්වයක් හිමි වන බව සිතිය හැකි වුවත් එය එකහෙළා පිළිගත නොහැකිය. මන්දයත් පුරුෂයෙකුගේ කිසිදු හැඳින්වීමකින් තොරව ඇතැම් කාන්තාවන් තමාව හඳුන්වා ඇති බව බ්‍රාහ්මීය ලිපිවලින් හෙළිවන බැවිනි. එසේම එවක කාන්තාව මෙලෙස ලෙන් ලිපිවල තමා හඳුන්වාලීමට පෙර තමාගේ ඥාතීන්ගේ විස්තර හුවා දක්වන්නට ඇත්තේ ඔවුන් සමාජය තුළ උසස් තත්ත්වයක් හිමි කරගෙන සිටි නිසාත් ඒ ඔස්සේ තමන්ට ද එකී ප්‍රභූ තත්ත්වය ලබාගැනීමේ අරමුණින් නිසාත් විය හැකි බව ලෙන් ලිපි දෙස අවධානය යොමුකිරීම තුළින් අනුමාන කළ හැකිය. කෙසේවුවත් මෙහිදී පෙනීයන වැදගත් කරුණක් වනුයේ කාන්තාවට සමාජය තුළ නිදහසේ කටයුතු කිරීමට අවස්ථාව හිමිව තිබූ බවත් ඇයට සමාජයෙහි කටයුතුවල නියැලීමේ දී දැඩි පුරුෂාධිපත්‍ය යටතේ කටයුතු සිදුනොකළ යුතු බවත්ය.

**නිගමනය**

කාන්තාව සම්බන්ධයෙන් තොරතුරු විශාල ප්‍රමාණයක් සාහිත්‍ය මූලාශ්‍රය යනාදියෙන් ලබාගත හැකිය. එනමුත් මෙහිලා වැදගත් මූලාශ්‍රයක් වශයෙන් බ්‍රාහ්මීය ලෙන් ලිපි හඳුනාගත හැකිය. ඒ අනුව බ්‍රාහ්මීය ලෙන් ලිපිවලින් එවක සමාජයෙහි ජීවත්වූ කාන්තාවන් පිළිබඳව එනම්, ඇයගේ සමාජ, ආර්ථික, දේශපාලන මෙන්ම ආගමික තත්ත්වය සම්බන්ධයෙන් ස්වාධීනත්වයෙන් යුක්තව සමාජය තුළ කටයුතු කරලීමේ අවස්ථාව එකල තිබූ සමාජය තුළින්ම හිමිව තිබූ බව ගම්‍යමාන වන බව කිව හැකිය. උක්ත කරුණු කාරණාවලට අනුව බ්‍රාහ්මීය ලෙන් ලිපිවලින් එවක කාන්තාවට සමාජය තුළ සෑම අංශයකින්ම පුරුෂයා හා සමාන උසස් තත්ත්වයක් හිමිව තිබූ බව මනාව විද්‍යමාන වේ.

## ආශ්‍රිත මූලාශ්‍රය


*ප්‍රාථමික මූලාශ්‍රය*

- ***අංගුත්තර නිකාය II*** (1962), බෞද්ධ සංස්කෘතික මධ්‍යස්ථානය, දෙහිවල.
- ***ථෙරිගාථා අට්ඨකථා*** (1999), සේනානායක ජී.එස්.බී (පරි.), ශ්‍රී ලංකා රාජකීය ආසියාතික සමිතිය.
- ***ප්‍රත්‍යශතකය*** (1985), සීමාසහිත ඇම්.ඩී. ගුණසේන සහ සමාගම, කොළඹ.
- ***මනුස්මෘතිය සහ මානව ශිෂ්ටාචාරය*** (2001), සෙනෙවිරත්න ආරියදාස, එස්. ගොඩගේ සහ සහෝදරයෝ, කොළඹ 10.
- ***සංයුක්ත නිකාය I*** (2005), බෞද්ධ සංස්කෘතික මධ්‍යස්ථානය, දෙහිවල.
- ***සිංහල දීඝ නිකාය*** (2004), ධම්මකීර්ති හිමි නිවන්දම සහ තවත් අය (පරි.), බෞද්ධ සංස්කෘතික මධ්‍යස්ථානය, දෙහිවල.
- ***Inscriptions of Ceylon. Vol- I*** (1970), Paranavitana S., The Department of Archaeology Ceylon.

*ද්විතියික මූලාශ්‍රය*

- අලවත්තගේ ශ්‍රී ප්‍රේමදාස (2007), ***පැරණි සිංහල විවාහ සංස්කෘතිය***, එස්. ගොඩගේ සහ සහෝදරයෝ, කොළඹ 10.
- වික්‍රමසිංහ මාර්ටින් (1991), ***තේරි ගී සහ කාව්‍ය විචාරය***, සීමාසහිත තිසර ප්‍රකාශකයෝ, දෙහිවල.